# පරාජය බාර ගනිමු

නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

බුද්ධං ධම්මං සංඝං නමස්සාමි

"ජයං වේරං පසවති
දුක්ඛං සේති පරාජිතෝ
උපසංතෝ පසංසේතී
හිත්වාජය පරාජයංතීතී"

පූජනීය මහා සංඝරත්නය ප්‍රධාන පින්වත් මෑණිවරුන්ගෙන් අවසරයි. ශ්‍රද්ධාවන්ත පින්වතුනි,

මහා සතිපට්ඨාන සූත්‍රය කේන්ද්‍රගත
කරගත්ත අපක්ෂපාතී නිරීක්ෂණය යන මැයෙන්, සතිමත් බව වැඩීමේ භාවනා වැඩමුළුවේ අද හත් වෙනි දවස. අද දවසේ මාතෘකාව 'පරාජය බාර ගනිමු.'

සාමාන්‍ය ජීවිතයක් ගෙවන ලෝකයා ඕනෑම දෙයක් කරන්නෙ ජයග්‍රහණයක් කරන්න. දිනන්න බලාගෙන. කවුරුත් පරාජය වෙනවා කියන එක අත්දකින්න, බුක්ති විඳින්න එච්චර මනාපයක් නෑ, සූදානමක් නෑ. තථාගතයන් වහන්සේගේ කුළුදුල් දේශනයේදී පවා ඕක ගැන මැනවින් කියලම දෙනවා. උන් වහන්සේගේ පළවෙනි දේශනාවටත් මේ දේ ඇතුලත් කරන්න ඇත්තේ "පියේහි විප්පයෝගෝ අප්පියේහි සම්පයෝගෝ" කියන ආකාරයට පරාජයන් බුක්ති විඳින්න සිද්ධ වෙනවා කියන කාරණාව ගැනම තමයි.

එතකොට පින්වතුනි අපේ සිතුවිල්ල, අපේ අභිලාශය, උවමනාව, කැමැත්ත නිරන්තරයෙන්ම යොමු වෙලා තියෙන්නේ, කැමති වෙලා තියෙන්නේ, රුචි වෙන්නේ, ජයග්‍රහණය හඹාගෙන යන්නට, ජයග්‍රහණය පසුපස්සේ එක්කාසු වන්නට. හැබැයි අවාසනාවට සාමාන්‍ය ජීවිතේ අපි බලාපොරොත්තු වෙන ආකාරයෙන්, බලාපොරොත්තු වෙන සියළුම දෙයක්ම සඵල කරගන්නට අපිට අවස්ථාවක් නෑ. ඒක ඔය ඇත්තන්ටත් එකයි, මටත් එකයි, මේ ලෝකෙ ඕනෑම කෙනෙක්ටත් එකයි. සාමාන්‍යයයි, සරලයි.

එතකොට පින්වතුනි පරාජය කියන එක අපිට ජීවිතය තුල නිරන්තරයෙන්ම ලැබෙන බුක්ති විඳින දෙයක් නම්, තථාගතයන් වහන්සේ වැනි වූ උත්තමයන් වහන්සේලා ඔය කියන ස්ථරයට, ඔය කියන කාරණාවට භාවිතා කරපු උප්පරවැට්ටියක් තියෙන්නත් ඕන. ක්‍රමයක් තියෙන්නත් ඕන. පරාජය කියන එකෙන් ඇති වෙන හිත් වේදනාවෙන්, ඒ දුකෙන් නිදහස් වෙන්න.

හරි ලස්සන ගාථාවක් තියනවා ධම්මපදයේ, "ජයං වේරං පසවති දුක්ඛං සේති පරාජිතෝ" කියල. ජය ලබනවා කියල කියන්නෙ පින්වතුනි වෛරක්කාරයෙක් ඇති කරනවා කියන එකයි තථාගතයන් වහන්සේගේ ඉගැන්වීම. හරි ලස්සනයි බලන්න, කොහේ හෝ තැනක ජයග්‍රහණය කරපු කෙනෙක් ඉන්නව නම් එයාගෙ ප්‍රතිවාදියා අනිවාර්යයෙන්ම පරාජය වෙලා තියෙන්න ඕන. ඒ ජයග්‍රහණය කරපු කෙනා කෙරෙහි ඒ ප්‍රතිවාදියා හෝ ඒ ප්‍රතිවාදියාට අයත් පිරිස රුචි වෙන්නෙ නෑ. කැමති වෙන්නෙ නෑ. වෛරක්කාරයො ඇති වෙනවාම තමයි.

කලහ වෙන, ප්‍රශ්න වෙන තැන් ඕන තරම් අහල ඇති සෙල්ලම් කරන තැනේදි. ගෙදරක් ගත්තත් ළමයි දෙන්නෙක් බෝල ගැහුවත් ඕකම තමයි තියෙන්නෙ. ඒක ඒ තරම්ම පැතිරිච්ච ප්‍රශ්නයක්.

"දුක්ඛං සේති පරාජිතෝ" ඒ වගේමයි තරඟයට ඉදිරිපත් වෙලා, තරඟයකට මුහුණ දීලා ජයග්‍රහණය කරන්න බැරි වෙනවා කියල කියන්නෙ මහා දුකක්. ඔබ අප සැම සියළු දෙනාම ඕකෙ කොටස්කාරයො. ඒ සමිතියේ නොමිලේම සාමාජිකත්වය ලබා ගත්ත අය. මොකද අපි කවුරුත් පරාජය වෙලා තියනව අපේ ජීවිතේ තුල එක වාරයක් හෝ ඊට වඩා වැඩි වාර ගණනක්.

එතකොට රහතන් වහන්සේලා වැනි වූ උත්තමයාණන් වහන්සේලා ඔය කියන ගැටළුවට භාවිතා කරපු පිළියම මොකද්ද? අන්න එතනටයි පින්වතුනි හරි ලස්සන කාරණාවක් තථාගතයන් වහන්සේ දේශනා කරන්නේ, "හිත්වාජය පරාජයං"

ප්‍රශ්නෙ මොකද්ද? "ජයං වේරං පසවති" ජයග්‍රහණය කරනවා කියල කියන්නේ වෛරක්කාරයෝ ඇති කරනවා. "දුක්ඛං සේති පරාජිතෝ" පරාජය වෙනව කියල කියන්නෙ ඒක මහා දුකක්. මානසික වේදනාවක්. "උපසංතෝ පසංසේතී" උපශාන්තයන් වහන්සේලා කියල කියන්නේ රහතන් වහන්සේලා හෝ තථාගතයන් වහන්සේ වැනි වූ සහමුලින්ම නිවිච්ච ඇත්තො. උන්වහන්සේලා භාවිතා කරන ක්‍රමය තමයි, "හිත්වාජය පරාජයං"

තරඟයකට යන්න එන්නෙ නෑ. තරඟයට ඉදිරිපත් වෙන්නෙ නෑ. නිතරඟයෙන්ම තරඟයෙන් අයින් වෙනව. අපි අපේ ජීවිතය තුල පින්වතුනි අපේ හැකියාවන්ගෙන් ප්‍රයෝජනය ලබා ගන්නට උත්සාහවන්ත වෙනවා නම්, ඔය ඇත්තොත් මමත් අපි අපේ හැකියාවන්ගෙන් සතුටු වෙනවා නම්, "මට මේ ප්‍රමාණය තියනව ඒ ඇති" කියලා ඔය ඇත්තොත් මමත් පින්වතුනි මීට වඩා බොහොම සංතෝසදායකයි. හරිම සැනසිලිවන්තයි.

හැබැයි රැල්ලක් තියනවා නම්, ඇදගෙන යන ස්වභාවයක් තියනවා නම්, ලෝකයා ජයග්‍රහණයක් පසුපසම යන්නට, හඹාගෙන යන්නට, ප්‍රතිවාදීන් හදා ගන්නට ඔය කියන ඉලක්කයට අපි අඩිය තියන්න වුනාම ඔය කියන ප්‍රශ්ණ ටික අපිට ඇති වෙනවාම තමයි. අපි දිනුවොත් වෛරකාරයො ඇති වෙනවා. අපි පැරදුනොත් දුක් පැමිණෙනව.

එතකොට සාමාන්‍ය ජීවිතය තුල අපි දෛනිකව නිරන්තතරයෙන්ම පරාජයට ලක්වෙන අවස්ථා තියනව. මේ කියන්නෙ මේ තරඟයක් දුවල පැරදෙන එක ගැන විතරක්ම නෙවෙයි. උදාහරණයක් කියනව නම් අපි කතාබහ කරගෙන යනකොට කියාගෙන කියාගෙන කියාගෙන ගියපුහම, ඊට පස්සෙ කියල ඉවර වුනාම තමයි තේරෙන්නේ "ආ..ආ..ඕක නම් මම කියන්න ඕන එකක් නෙවෙයි" කියල. අපිට ගොඩක් වෙලාවට වෙන දෙයක් මේක. ඒ වගේ වෙලාවකදි අපි ඉගෙනගෙන තියන දේ තමයි සමහරක් වෙලාවට "ආ..මේක මට කියවුනා නේ. මාර වැඩක් නේ. කියන්න ඕන එකක් නෙවෙයි නේ"

ඔහොම හිතලා ගොඩක් වෙලාවට වෙන කෙනෙක් එක්ක කියනව වෙන්නත් පුළුවන් සමහර වෙලාවට නැත්නම් තමන්ම තමන්ගේ හිත ඇතුලෙන් ඒක වහල දාගන්න විදියට මොකක් හරි සිතුවිල්ලක් ඇති කරගෙන, වෙන මතකයක් දාගෙන, පැලැස්තරයක් අලවගන්න එක තමයි සාමාන්‍යයෙන් කරන්නෙ. හැබැයි මේ අපි පැහැදිලිවටම පරාජය වෙලා නේද? වචනය කතා කරල නෑ නෙ හරියට.

එතකොට තථාගතයන් වහන්සේ ඔන්න ඔය වගේ අවධාරයකදි අපිට කියල දෙන රටාව අපි ඔය පුරුදු කරන රටාව නෙවෙයි. අපි පුරුදු කරන්නෙ මොකක් හරි වැරැද්දක් වුනොත් එහෙම "හා හා කමක් නෑ ඒක ගණං ගන්න දෙයක් නෑ" කියල වහල දාන එක වුනාට බුදුරජාණන් වහන්සේලා ඔය කියන කාරණාව ඔය තියන ස්වභාවයෙන් නතර කරන්න නෙවෙයි අපිට උගන්වන්නෙ.

ඒකට හේතුව අපි එක්තරා අවස්ථාවකදි එක්තරා කෙනෙක් එක්ක කතාබහ කරනකොට, අපේ වචනය අසංවර වෙලා අපි නොසරුප් දෙයක් කිවුව කියන්නකො. පළවෙනි වතාවෙ නම් ඕක 'කෝඩු' කියල කියනව. සිරිපාදෙ නම්, පළවෙනි වතාවෙ යනව නම් කියන්නෙ කෝඩුකාරයො කියලනෙ. ඒ හුරු නැති අයට. ඕනෑම දෙයක් පළවෙනි වතාවට කරනකොට අපි කෝඩුකාරයො තමයි. අපිට හුරු නෑ. නමුත් පුරුදු වුනාම දෙවනි වතාවෙදි ආයෙ කෝඩු කියන්නෙ නෑනෙ. හුරුයි. ඒ විදිහට කතා කරන්න පෙළඹෙනව.

දැන් පළවෙනි වතාවෙදි එහෙම කතා කරද්දී අපිට තේරුමක් ආවා නම් මේ විදියට කතා කරන එකේ වැරැද්දක් තියනවා කියලා, අපි ඒ දේ සකස් කරගන්නට උත්සාහවන්ත වුනා නම්, නිවැරදිව සකස් කරගත්තා නම්, දෙවනි වතාවේදී අපෙන් ඒ වගේ වචනයක් එළියට යන්න කලින් අපේ හිත අපිට මතක් කරල දෙනවා "නෑ ඕක වෙනස් විදියකට කියන්න තිබ්බා" කියල. ඔය කාරණේ වෙනත් ආකාරයකට කියන්න තිබුනාය කියල.

එතකොට පින්වතුනි සාමාන්‍ය ජීවිතය තුල අපි පරාජය කියන එක ඇත්තටම කියනව නම් සාමාන්‍යයෙන් කරන්නේ ඒක පැලැස්තරයක් දාල වහනව වුනාට, ධර්ම මාර්ගය තුලදී කියල දෙන්නේ වැරදි වූ වචනයක් කිවුවා නම් ඔව් මම වැරදි වචනයක් කිවුවා කියල තේරුම් අරගෙන එතනට නිවැරදි වචනය ආදේශ කරන්නට.

අපිට කියන්න පුළුවන්කමක් තියෙන්න ඕන සමාවෙන්න ඕන, ඕක නෙවෙයි මම කියන්න ගියේ කියල. "මං කියන්න ගියේ මෙන්න මේ කතාව මට කියවුනේ මෙන්න

මේක" කියල. වෙච්ච වැරැද්ද කාරි නෑ. අපි හිතන්නෙ වෙච්ච දේ වුනා ආයෙ කරන්න දෙයක් නෑ කියලනෙ. නෑ මා පුතා එහෙම එකක් නෙවෙයි. වෙච්ච දේ වුනාට ඒක සකස් කරන්න පුළුවන්.

බුද්ධ දර්ශනය කියල කියන්නෙ වැරැද්දම හංවඩු ගහ ගහ ඉන්න තැනක් නෙවෙයි. එහෙම නම් අංගුලිමාල වගේ ඇත්තන්ට මං හිතන්නෙ කල්ප ගාණක් යයි අර්හත්වය ලබා ගන්න කියල. නමුත් උන් වහන්සේ ඒ ජීවිතේදිම රහත්භාවය ලබා ගත්තනෙ. ඒ ජීවිතේදීමනෙ උන් වහන්සේ අර ගිහි කාලෙ මහා අධාර්මික විදිහේ වැඩ කලේ. මහා නොසන්ඩාල විදිහේ ජීවිතයක් ගෙවුවෙ.

ඒ වුනාට එයාගෙ තිබ්බ්ච වැරැද්ද එයාට පිළිගන්නට, ඒ වැරැද්ද තේරුම් ගන්නට තථාගතයන් වහන්සේ අවස්ථාවක් අරන් දුන්න. එයාටම ඉගෙන ගන්න කියල දුන්නා ඔයාගෙ වැරැද්දක් තිබ්බ තමයි නමුත් වැරැද්ද නැති ජීවිතේකුත් තියනව කියල. අන්න ඒකයි වැදගත්කම තියෙන්නෙ.

අපි පින්වතුනි අපේ ජීවිතේ තුල පරාජයක් ලබපුහාම සාමාන්‍යයෙන් ඉගෙනගෙන තියන රටාව, දුක් දොම්නස් ඇති කරගන්නට, පශ්චත්තාප වෙන්නට, අඬන්න දොඩන්න වෙන්න වුනාට, තථාගතයන් වහන්සේ උගන්වනවා, ඒ පරාජයට මුහුණ දීල ඒ පරාජය වෙච්ච විදිහ ඉගෙනගෙන නිවැරදි විදියට හිත හදාගන්නෙ කොහොමද කියලා අපිව සකස් කරගන්නට. අපිව යොමු කරගන්නෙ කොහොමද කියල.

අන්න ඒකෙ පළවෙනි ඉලක්කය, පළවෙනි අදියර තමයි අපේ වචනය පැත්තෙන් වැරැද්දක් වුනා නම්, වැරදි දෙයක් කියවුනා නම්, එහෙම ඊළඟට අපි උත්සාහ කරන්න බලනවා ඒ වැරැද්දෙන් කියවුනු දේ නිවැරදි ආකාරයෙන් කියවෙන තැනට ආපහු යොමු කරගන්න. ඒ වගේමයි අපි අතරින් වැරදි වැඩක් කෙරුනා වුනත්. ඔය වගේමයි පින්වතුනි අපේ හිතට වැරදි විදිහේ සිතුවිල්ලක් ආවා වුනත් අපි ඉගෙන ගන්නවා නම්, අපි පුරුදු කරනවා නම් මේ හිතට ආපු සිතුවිල්ල වැරදියි, මේක මෙහෙම හිතන්න නරක සිතුවිල්ලක් කියලා, හොඳ නැති සිතුවිල්ලක් කියලා, ඒ ආකාරයෙන් අපිට සලකන්න පුළුවන්කමක් තියනවා නම්, ඒ ආකාරයෙන් සලකනවා නම්, ඊළඟ අවස්ථාවකදී හිතට එවන් වූ සිතුවිල්ලක් පැන නඟින්න කලින් හිතම අපිට කියල දේවි නෑ මේ විදියට හිතන එක එච්චර හොඳ නැහැ කියලා.

හැබැයි වැඩේ තියෙන්නෙ මෙන්න මේකයි. අපි හිතමුකො වැරදි වචනයක් කියෙව්වහම අපේ පැත්තට පශ්චත්තාපයක් එනවා මං මේ වැරැද්දක් තමයි කිවුවෙ කියල. ඕක හදා ගන්න පළවෙනි වතාවෙ උත්සාහවත් වුනා කියන්නකො, "නෑ නෑ මං මේ මේ දේයි කියන්න ගත්තෙ" කියල. දෙවනි අවස්ථාවෙදි ඔය වගේ වචනයක් කියවෙන්න එනකොට අපේ හිත අපිට විසඳුම් දෙකක් පෙන්නලා දෙනවා. බොහොම ක්ෂණයකින් වෙන දෙයක්. ඔය ඇත්තන්ට ඕක කරොත් තේරෙයි ඇත්තම කියනව නම්.

අපේ හිත මතක් කරල දෙනව "මම අර පරණ පුරුදු පැරණි තාලෙට කතා කරනවද? පස්සෙ ඉගෙන ගත්ත ධර්මානුකූල විදියට කතා කරනවද" කියල. මේකෙ තියන ප්‍රශ්නෙ තමයි අපි හදිස්සියෙ හරි, ප්‍රමාදයට වැටිල, කම්මැලිකමට වැටිල,

කෙලෙස්වලට වැටිල, නෑ මම අර පරණ පුරුදු තරහ විදියටම කතා කරනව කියල ගියා කියන්නකො. ආයෙ ඊළඟ වතාවෙදි ඔය වගේ වචනයක් කියද්දි අපේ හිත අපිට මතක් කරල දෙන්නෙ නැහැ ගොඩක් වෙලාවට ඕකට භාවිතා කරන්න පුළුවන් කුසල සිතුවිල්ලක් තියනවා කියල.

හේතුව තමයි අපි අපේ හිතට අවසාන වශයෙන් එකතු කරල තියන, තැන්පත් කරල තියන, ඒ වගේ වටපිටාවකදි තැන්පත් කරල තියන, මතකය තුල තියෙන්නෙ අධාර්මික බවක් නිසා. අපිට පින්වතුනි ධර්මය තුලින් කියල දෙන්නෙ ඒ දේ වහල දාන්න නෙවෙයි, ඒ දේ වහල දාන්නෙ නැතුව නැවතත් සකස් කරගන්න විදිහේ ක්‍රමයකට යන්නටයි.

මේ වගේ අවධියක් පින්වතුනි එතකොට අපේ භාවනාවෙදි වැදගත් වෙන්නෙ ඇයි? ප්‍රධාන වශයෙන්ම වැදගත් වෙන හේතුව තමයි අපි අපේ සිහිය පුරුදු කරන්න පටන් ගන්නේ, අපිව පිරිසිදු කරන්න පටන් ගන්නේ, භාවනාව කරන වාරයෙදි විතරක් නොවෙන හින්ද. සාමාන්‍ය ජීවිතේදී පවා අපේ වචනයේ ඉඳලම අපි පිරිසිදු වෙන්න පටන් ගන්නව.

ඔය ඇත්තන්ට මතකද දන්නෙ නෑ ගිය සතියෙ අපි කතා කලේ සිහිය සහ අසිහිය කියන මාතෘකාව යටතේ. අපිට භාවිතා කරන්න පුළුවන් සිහිය කොයි තරම් පිරිසිදු ආකාරයටද නැත්නම් අපිරිසිදු ආකාරයටද මේ දේ භාවිතා කරන්න පුළුවන් වෙන්නෙ කියල. එතකොට පින්වතුනි මේ තාලෙන්ම තමයි සාමාන්‍ය ජීවිතය තුලත් අපේ වචනය අපිට භාවිතා කරන්න පුළුවන් ක්‍රම ගොඩක් තියනව. අපේ වචනය කොයි තරම් නම් පිරිසිදුව භාවිතා කරන්න පුළුවන්ද, කොච්චර නම් අපිරිසිදුව අපේ වචනය ගලාගෙන යනවද කියන එක අපිටම තේරුම් බේරුම් කරගන්න පුළුවන්කමක් හම්බ වේවි.

තථාගතයන් වහන්සේ දේශනා කරන නිවී සැනසෙන මාර්ගයේ ක්‍රමයන් මෙච්ච තමයි. එතකොට පින්වතුනි මේ දේවල් කරන්න දැන් ඔය ඇත්තො දන්නව ඔය ඇත්තන්ට තේරෙනව. පූජාවකින් කරන්න පුළුවන් වෙයිද? දෙයියන්ට කිවුවොත් හරියයිද? ඒ කාටවත් තේරෙන්නෙ නෑ අපි මොකද්ද හිතන්නෙ කියල. අපේ හිත ඇතුලෙ මොකද්ද තියෙන්නෙ කියලා උඩ ඉන්න දෙයියොවත් දන්නෙ නෑ ඇත්තටම කියනව නම් අපි මිසක්. වචනෙට නම් කියන්නෙ මට එන දේවල් ඔක්කොම දන්නෙ කවුද? උඩ ඉන්න දෙයියො විතරයි කියලයි. නෑ දෙයියන්ට තේරෙන්නෙ නෑ. එයාට වෙන වැඩ තියෙන්න පුළුවන්නෙ අපි දිහා බලනවට වඩා. නේද?

ආන් ඒ වගේ පින්වතුනි අපේ ජීවිතය තුල අපි ඇති කරගන්නට බලන්න ඕන, නිරන්තරයෙන්ම සතිමත් විදිහේ පැවැත්මක් හදා ගන්න. එතකොට ඒ විදියට පුරුදු කරන සිහියක් තියන කෙනා පර්යංකයට ආවොත් එහෙම, භාවනාවකට ආවොත් එහෙම, අන්න ඒ කෙනාගේ භාවනාව නිසියාකාරයෙන් සිද්ධ වෙනවා කියන එක අහන්නත් දෙයක් නෙවෙයි. මොකද එයා සිහිය පුරුදු කරන එක, සතිමත් වෙන එක, තමන්ව පිරිසිදු කරගන්න එක "සචිත්ත පරියෝ දපනං" කියන එක, තමන්ගේ හිත කෙලෙස්වලින් නිදහස් කරගන්න එක, දමනය කරගන්නවා කියන එක කරන්නෙ පරියංකයේදී විතරක් නෙවෙයි. සාමාන්‍ය ජීවිතේදී පවා.

එතකොට හිතල බලන්න ඒ කෙනාගේ ජීවිතේ කොයි තරම් නම් සැහැල්ලු ඇද්ද කියල. කොයි තරම් නම් නිවී සැනසිලා ඇද්ද කියන්නකො. අපිට නිකං හිතා ගන්න පුළුවන්නෙ. ආන් ඒ වගේ ජීවිතේකුයි පින්වතුනි මේ හදාගන්න කියන්නෙ. ඒකයි මේ ධර්ම මාර්ගය තුල යන කෙනා ඒ කෙනාගේ ගමන ගැන, ඒ කෙනාගේ දිශානතිය ගැන තේරුමක් ඇතිව යනවා කියල කියන්නෙ. එයාට තේරෙනව එයා යන්නෙ කොහෙද කියල. එයා ගමන් කරන්නෙ මොන දිශාවටද, මොකද්ද එයාගෙ කටයුත්ත කියල එයාට හොඳට තේරෙනව. හේතුව තමයි ඒ කෙනා එයාගෙ ජීවිතේ දිහා නැවත නැවත, නැවත නැවත, හැරි හැරී බලන විදිහේ රටාවකට හුරු වෙලා තියෙන්නෙ. පුරුදු වෙලා තියෙන්නෙ.

ඉතින් පින්වතුනි අරමුණු පසුපස්සෙ අපි හඹාගෙන යන්නෙ නැතුව, අපේ හිත අපට කියන කියන දේවල් ඔස්සේ හඹාගෙන යන්නෙ නැතුව, අපි ඉගෙන ගන්නට පටන් ගත්තොත් එහෙම "ඔව් මගේ අතින් වැරැද්දක් වුනා" කියල ඇත්තටම ඔව් මගේ අතින් වැරැද්දක් වුනා, ඔව් මම වැරැද්දක් කලා කියන ආකාරයෙන් අපි අපේ ඇත්ත කතාව තේරුම් ගන්න වුනොත් එහෙම, අන්න ඊට පස්සෙ අපිට පුළුවන්කමක් හම්බ වෙනවා නිවැරදි වූ විදියට පිළියම් යොදන ක්‍රමය භාවිතා කරන්න.

නමුත් සාමාන්‍ය ලෝකයා ගොඩක් වෙලාවට කරන්නෙ මොකද්ද දන්නවද? "පිස්සුද? මම කිවුවෙ නෑ ඔහොම එකක්. එච්ච කොහෙද" අන්න එහෙමයි සාමාන්‍ය ලෝකයාගේ තියන සාමාන්‍ය රටාව. එතකොට පින්වතුනි අපි මේ උත්සාහවත් වෙන්නේ ඒ සාමාන්‍ය ලෝකයෙන් එතෙර වෙලා නිවන් සුවය සාක්ෂාත් කරගන්නා වූ ක්‍රමයට යන්න නම්, ඒ දිශානතියට යන්න නම්, අපි අපේ සිහිය භාවිතා කරන්න පටන් ගන්න ඕන, භාවනාව කරන්න පටන් ගන්න ඕන සාමාන්‍ය ජීවිතේදී පවා.

ඕක හන්දයි මට අර කෝප්පෙ තියන එක මේ තරමටම ප්‍රයෝජනවත් වුනේ. මං බොහෝම ආසා උදාහරණයක් තමා ඒක. කට්ටිය ගොඩක් ඉන්න තැනක කෝප්පයක් අරගෙන 'ඩග්' ගාල තිබ්බොත් එහෙම, ඒකෙන් කියවෙන කතාව තුල තියනවා යම්කිසි වූ අමනාපය ගැබ් වෙච්ච බවක්. දොරක් වහන්න පුළුවන්, රෙද්දක් තියන්න පුළුවන්, ජනේලයක් වහන්න පුළුවන්, කාරල කෙළ ගහන්න පුළුවන්, එක්කො හුස්ම ගන්නත් පුළුවන්, අඩිය තියන්න පුළුවන්, සෙරෙප්පු දාන්න පුළුවන් මෙකී නොකී දාහකුත් එකක් තියනව ඔය තාලෙන් කරන්න.

ඒකෙ අභ්‍යන්තරයෙ තියනව ද්වේශය මුසු වෙච්ච බවක්. ඒකෙ අභ්‍යන්තරයෙ තියෙන්නෙ ධර්මය මුසු වෙච්ච බවක් නෙවෙයි අධර්මය මුසු වෙච්ච බවකුයි. එතකොට සතිපට්ඨානය පුරුදු කරන කෙනා එයාගේ භාවනාව පර්යංකයට හෝ සක්මනට විතරක් සීමා කරගන්නෙ නැතුව සාමාන්‍ය ජීවිතේටත් අරගෙන යනව. ඩග් ගාල තියන්න යන්නෙ නැතුව කෝප්පෙ බොහෝම උවමනාවෙන් තියනව.

ඇත්ත කියනව නම් ඒ කාලෙ මේධාවි හාමුදුරුවන්ගෙ හිතේ කොච්චර ද්වේශයක් තිබ්බද කියනව නම් (අවංකවම කියන්න එපැයි) කෝප්පෙ තිබ්බෙත් තරහෙන්. කෝප්පෙ තිබ්බෙත් තරහෙන්. කාටද තරහ වෙන්නෙ කියන එක අදාල නෑ. අහුවෙන ඕන එකක් එක්ක තරහයි. සමහරක් වෙලාවට බුදු හාමුදුරුවො එක්කත් තරහයි.

හේතුවක් නෑ, උන්වහන්සේ කරපු දෙයක් නෑ ඒ වුනාට තරහයි. මේ තමයි අපේ තියන වැරැද්දේ ස්වභාවය.

නමුත් කාලයක් ගියා මටත් තේරුම් ගන්න "නෑ මට තරහ යනව" කියල. මොකද මහණ වෙනකොටම අපි හිතාගන්නෙ නැත්නම් මේ ධර්මය පුරුදු කරන්න වුනාම කෙලින්ම හිතාගන්නෙ පළවෙනියෙන්ම රහත් කියලනෙ. ආයෙ ඉතින් ඉහළ ලංසුවෙන්ම තමයි දාගන්නෙ. උඩින්ම. ආයෙ පල්ලෙහාට බහින්න කැමති නෑ.

හැබැයි ධර්මයේ උගන්වන්නේ "හිත්වාජය පරාජයං" තරහයට ඉදිරිපත් නොවී ඉන්න. කරුණාකරලා තමන්ගේ තියන නොහැකියාව පිළිගන්න. තමන් අසාර්ථක වුනා නම්, අසාර්ථක වීමක් තියනව නම්, තමන්ගෙ අසාර්ථක වීම අනුමත කරන්න. එච්චරයි. ඒක සාර්ථකත්වයට මාවතයි.

ඉතින් පින්වතුනි ඔන්න ඔය කියන කාරණාව තමයි අද දවසේදී මට ඔය ඇත්තන්ගෙ හිත්වල තියන්න ඕනකම වුනේ. අපි මේ භාවිතා කරන ධර්මය, අපි මේ පුරුදු කරන ධර්මය අපේ ජීවිතේට ගැලපෙන්න ඕන. ඒ ජීවිටත්ට ගලපා ගන්නා වූ ක්‍රමය තමයි මේ. මේක එතකොට පොතේපතේ තියෙන්න ඕන එකක් නෙවෙයි. මේක අපේ හිතේ තියෙන්න ඕන එකක්. මේක අපේ වචනයේ තියෙන්න ඕන එකක්. මේක අපේ ඇඟේ තියෙන්න ඕන එකක්. ඇහෙන් රූපෙ බලනකොට තියෙන්න ඕන එකක්. මේක අපි කෝප්පයක් බිම තියනකොටත් තියෙන්න ඕන එකක්. අඩියක් තියනකොටත් තියෙන්න ඕන එකක්. එහෙම නේද? බැල්ම හෙළනකොටත් තියෙන්න ඕන එකක්.

ඒ හැම වෙලාවකම අපේ ජීවිතේ තුල, අපේ චිත්ත සන්තානය තුල, අපේ ආත්මය තුල, තියෙනවා නම් පිරිසිදු භාවයක්, සතිමත් භාවයක්, නිවී සැනසුනු භාවයක්, සාදු සාදු එය බොහෝ යහපත පිණිසමයි හේතු වෙන්නෙ. එය එසේම වේවා කියල බලාපොරොත්තු වෙනව.

සියළු දෙනාටම තෙරුවන් සරණයි !

පූජනීය පදියතලාවේ මේධාවි හිමි